මුද්දර නිවේදන අංක
முத்திரைச் செய்தித்தாள் இல.
Stamp Bulletin No. } 531

තැපැල් දෙපාර්තමේන්තුව,
ට්‍රාන්ස්වර්ක්ස් මන්දිරය,
කොළඹ 00100.

සමරු නිකුත් කිරීම
ஞாபகார்த்த வெளியீடு
**Commemorative Issue**




# ජාත්‍යන්තර හෙද දිනය
# சர்வதேச தாதிமார் தினம்
# International Nursing Day

**2003.05.12**

**Philatelic Bureau**
Department of Posts,
M. I. C. H. Building, No. 27, Bristol Street,
Colombo 00100,
SRI LANKA.

මුද්දර කාර්යාංශය
තැපැල් දෙපාර්තමේන්තුව
අංක. 27, යෝ. ඉ. සං. නි, බ්‍රිස්ටල් වීදිය,
කොළඹ 00100.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
சோ. இ. க. நி. கட்டடம்,
இல. 27, பிரிஸ்டல் வீதி, கொழும்பு 00100.

ජාත්‍යන්තර හෙද දිනය සැමරීම සඳහා රු. 4.50ක වටිනාකමින් යුත් නව තැපැල් මුද්දරයක් තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය විසින් 2003 මැයි මස 12 වැනි දින නිකුත් කරනු ලැබේ.

හෙද සේවය සඳහා අමරණීය සේවාවක් ඉටු කර එමෙන්ම එය වර්තමානයේ පවතින ආකාරයට ක්‍රමවත් හා විද්‍යාත්මක පදනමකින් ලොව පුරා ස්ථාපිත කළ හෙද සේවයේ මාතාව ලෙස විරුදාවලිය ලත් 'ප්ලොරන්ස් නයිටිංගේල්' මැතිණියගේ ජන්ම දිනය පදනම් කර ගනිමින් මැයි මස 12 වැනි දින 'ජාත්‍යන්තර හෙද දිනය' ලෙස ප්‍රකාශයට පත්කර ඇත.

ප්ලොරන්ස් නයිටිංගේල් 1820 මැයි මස 12 වැනි දින ඉතාලියේ ප්ලොරන්ස් නගරයේ දී උපත ලැබුවාය. ධනවත්, වංශවත් ඉංග්‍රීසි ජාතික 'විලියම් එඩ්වර්ඩ්' හා 'ප්‍රාන්සස් ස්මිත්' යුවලට දාව ඇය උපන්නේ ඇගේ දෙමාපියන් ඉතාලියේ තාවකාලිකව පදිංචිව සිටියදීය. ඉන් පසුව ඇය එංගලන්තයේ ඩර්බිෂෙයර්, හැම්ප්ෂෙයර් හා ලන්ඩනයේ ද වැඩුනාය. ඇගේ මාපියන් දෙපල ඇයට හොඳින් අධ්‍යාපනය ලබා දුන්හ.

හෙද විද්‍යාලක ඉගෙන ගැනීමට ඇය දැඩි කැමැත්තක් දැක්වුවද දෙමව්පියන්ගෙන් ඊට අනුබලයක් නොලැබිණි. ඇය යොමු කරවනු ලැබුයේ පාර්ලිමේන්තු වාර්තා පිළිබඳව අධ්‍යයනය කිරීමට වුව ද එතුළින් ද ඇය වසර තුනකදී මහජන සෞඛ්‍යය හා ආරෝග්‍යශාලා පිළිබඳව මනා දැනීමක් ලබා ගත්තා ය. පසුව ඇය දෙමව්පියන්ගේ විරෝධතාවය ද නොතකා එංගලන්තය හා ආශ්‍රිත යුරෝපීය රටවල ආරෝග්‍යශාලාවලට ගොස් රෝගීන්ට උපස්ථාන කිරීමට කටයුතු කළාය. 1846 වසරේදී ඇයට ඇගේ මිතුරියක විසින් ජර්මනියේ කෙයිසර්ස්වර්ක්සි හි පෙන්තකොස්ත දේවගැති ආයතනයකට වාර්ෂික ග්‍රන්ථයක් පරිත්‍යාග කළාය. ඉන් වසරකට පසුව ඇය එම ආයතනයේදීම හෙද පුහුණුව ලැබුවාය. පසුව 1853 දී ලන්ඩනයේ රෝගාතුරව සිටි ඉහළ පෙළේ කාන්තාවන් රැක බලා ගැනීම සඳහා වන ආයතනයේ අධිකාරිණිය ලෙස ඇය පත් කරන ලදී.

මේ අතර 1854 මාර්තු මස 24 වැනි දින රුසියාව හා තුර්කිය අතර යුද්ධයක් ආරම්භ විය. රුසියාවේ දකුණුදිග ප්‍රදේශයේ පිහිටි ක්‍රිමියන්

අර්ධද්වීපයට බලයෙන් ඇතුළු ව රුසියාවට එරෙහිව මහා බ්‍රිතාන්‍ය හා ප්‍රංශය සමඟ එක්වූ තුර්කිය යුද ප්‍රකාශ කිරීමෙන් මෙම යුද්ධය ඇරඹිණි. මේ සටනේදී තුර්කියට, මහා බ්‍රිතාන්‍ය හා ප්‍රංශයේ හමුදා භටයින්ගේ සහාය ලැබුනිද යුද්ධයෙන් අනතුරට පත් වූත්, රෝගාතුරවූත් හමුදා භටයින්ට ප්‍රතිකාර කිරීමට ප්‍රමාණවත් ශල්‍ය වෛද්‍යවරුන් හා හෙදියන් නොවීය. මේ පිළිබඳවත් රෝගීන්ට අවශ්‍ය ලිනන් රෙදි නොමැතිවීම හා සතියක් පමණ ගතවනතුරුත් සමහරුන්ට ප්‍රතිකාර නොලැබීම පිළිබඳවත් එංගලන්තයේ ටයිම්ස් පුවත්පතේ තොරතුරු පළවිය. එය දුටු ෆ්ලොරන්ස් නයිටිංගේල් ඒ පිළිබඳව කම්පාවට පත්ව හෙද කණ්ඩායමක් ක්‍රිමියාවට ගෙන යාමට අවසර පැතුවාය. ඇගේ සාත්තු සේවය පිළිබඳව අවබෝධයෙන් සිටි එවකට යුද හමුදා ලේකම් ධුරය ද දැරූ සිඩ්නි හර්බට් මහතා ද ඒ සඳහා ඇගේ සහාය පැතූ අතර තුර්කියේ ස්කුටාරි හි හමුදා රෝහල්වල හෙදියන්ගේ ප්‍රධානියා ලෙස ඇය පත් කරනු ලැබුවාය. 1854 නොවැම්බර් මාසයේ දී ඇය තුර්කියේ 'කොන්ස්තන්තිනෝපල්' නගරයට (දැන් අගනුවර වන ඉස්තාන්බුල් නගරය) පැමිණෙන විට යුද්ධය ඇරඹී මාස ගණනක් ගත වී තිබූ අතර රෝහල් තුවාලකරුවන්ගෙන් පිරී ඉතා අපිරිසිදු තත්වයක පැවතිණි. එහි ආහාර හා ඖෂධ හිඟයක් ද විය. කෙසේ වෙතත් තවත් හෙදියන් 38 ක් ද සමග පැමිණි මෙම කාන්තාව කෙරෙහි රෝහල් බලධාරීන් යහපත් ප්‍රතිචාරයක් නොදැක්වීය. ඉන් අධෛර්යයට පත් නොවූ ඇය තම පෞද්ගලික මුදලින් හා ලන්ඩන් හි පුවත්පත් අරමුදලින් ලද මුදල්වලින් රෝහලට අවශ්‍ය ආහාර හා බෙහෙත් ආදිය මිලදී ගෙන තම සේවය ඇරඹීය. වේගයෙන් පැතිරීගිය බෝවන රෝග හේතුවෙන් ඉඩකඩ මදි වූ රෝගීන් සඳහා තම මුදල් වැය කර තුර්කි කම්කරුවන් ලවා රෝහලට අලුත් ගොඩනැගිල්ලක් ඉදිකර දීමට ද ඇය කටයුතු කළාය. මෙලෙස ඇය රෝහලේ සාත්තු සේවා කටයුතු භාර ගැනීමෙන් පසු ක්‍රමවත් රෝගී සාත්තුවක් හා සංවිධානාත්මක සාත්තු සේවාවක් ස්ථාපිත වූ අතර යුද සෙබළුන් විශාල වශයෙන් මිය යාම ද පහත වැටුණි. ෆ්ලොරන්ස් තම කුඩා කණ්ඩායම සමග දිනකට පැය 20ක් පමණ රෝහලේ ගත කරමින් රෝගීන්ට උවටැන් කළාය. රාත්‍රී කාලයේද ලන්තෑරුමක්ද රැගෙන යමින් රෝගීන්ගේ තත්ත්වය සොයා බැලූ ඇය එහි සිටි සෙබළුන් විසින් හැඳින්වූයේ 'ලාම්පුවක් රැගෙන යන කාන්තාව' යන සෙනෙහබර වදනිනි.

වසර දෙකක් පමණ කාලයක් එම රෝහලේ සේවය කිරීමෙන් ඇයට යුද භටයින් විශාල පිරිසකගේ ජීවිත රැක දීමට හැකිවිය. පසුව නැවත බ්‍රිතාන්‍යයට පැමිණි ඇය එරට වැසියන්ගේ ගෞරවාදරයට පත් වූ අතර සිදු කළ සේවය වෙනුවෙන් පවුම් දස දහසක් (10,000) ප්‍රදානය කෙරිණි. නමුත් එම මුදල පෞද්ගලික ප්‍රයෝජන සඳහා ලබා ගැනීම



ප්‍රතික්ෂේප කළ ඇය එය ආරෝග්‍යශාලා අරමුලක් සඳහා යොදවනු ලැබීය. තම සේවා කාලය තුළදීම හෙදකම පිළිබඳව පත පොත ලියා පළ කළ ඇය 1860 වර්ෂයේ දී ලන්ඩන්හි ශාන්ත තෝමස් රෝහලට අනුබද්ධව නයිටිංගේල් හෙද විදුහල ද, ලිවර්පූල් නගරයේදී ප්‍රජා සෞඛ්‍යය හෙද සේවාව ද ආරම්භ කළාය. ඇගේ හෙද සේවය පිළිබඳ සටහන් ග්‍රන්ථයක් ලෙස එම වසරේදීම ප්‍රකාශයට පත්විය.

පසු කලෙක එනම් 1907 වර්ෂයේදී ඇයට බ්‍රිතාන්‍ය රජයෙන් ගෞරව ගුණ සමරු නාමයක් ප්‍රදානය කෙරිනි. අඳුවන වියට පත්වන තෙක්ම හෙද කටයුතුවල යෙදුන ෆ්ලොරන්ස් නයිටිංගේල් ද තම ජීවිතය අවසාන භාගයේ දී හෙදියකගේ සහාය ලබා ගැනීමට සිදු විය. 1910 අගෝස්තු මස 13 වැනි දින ඇය මෙලොවින් සදහටම සමු ගත්තේ මානව දයාවෙන් පිරි ඉතා අගනා සේවාවක් ලොවට දායද කරමිනි. ඇගේ උදාර සාත්තු සේවාවේ දර්ශනය වූයේ 'හෙදියකගේ ප්‍රධානතම කාර්යය වන්නේ රෝගියාගේ කාමරයේ වාතාශ්‍රය උපරිම පිරිසිදු මට්ටමකින් පවත්වාගෙන යාම' යන්නයි.

ලොවට අනුපමේය සේවයක් කළ නයිටිංගේල් ජන්ම දිනය ජාත්‍යන්තර හෙද දිනය ලෙස නම් කිරීමට 1899දී පිහිටවනු ලැබූ ජාත්‍යන්තර හෙද කවුන්සලය විසින් තීරණය කරන ලදුව එතැන් පටන් සෑම වසරකදීම මැයි මස 12 වැනි දින ජාත්‍යන්තර හෙද දිනය ලෙස සමරනු ලබයි. විධිමත් හෙද සේවාවක් ඇරඹීමත් සමග 1939 වර්ෂයේ සිට අප රටේ ද ජාත්‍යන්තර හෙද දිනය සැමරිනි. කෙසේ වෙතත් මේ සඳහා අප රටතුළ පුළුල් වැඩපිළිවෙලක් නොවූ අතර රාජ්‍ය සේවා එක්සත් හෙද සංගමය එම දිනයේ ඇති වැදගත්කමත් හෙද සේවාවට එහි ඇති සම්බන්ධතාවයත් සළකා මෙම උතුම් දිනය උත්කර්ෂවත් ලෙස සැළකීමට පියවර ගනු ලැබීය.

1966 මාර්තු මස 24 වැනි දින 'පොදු හෙද සංගමය' ලෙස පිහිටවනු ලැබූ මෙම සංගමය 1969 නොවැම්බර් මස 05 වැනි දින ගරු මුරුත්තෙට්ටුවේ ආනන්ද හිමිපාණන්ගේ පුරෝගාමිත්වයෙන් 'රාජ්‍ය සේවා එක්සත් හෙද සංගමය' ලෙස ප්‍රතිසංවිධානය විය. එදා සාමාජිකයින් 13 දෙනෙකුගෙන් ඇරඹි මෙම සංගමය අද දහසය දහසකට (16,000) වඩා වැඩි සාමාජිකත්වයකට හිමිකම් කියයි.

හෙද සේවාව ගුණාත්මකව වර්ධනය කර රටේ ජනතාවට විපුල සේවාවක් ලබාදීමත් ඒවායේ නිරත වූ නිලධාරීන්ගේ ආර්ථික, අධ්‍යාපන හා සමාජමය තත්ත්වයන් නගා සිටුවීමත්, අනාගත දේශයේ සේවා

අවශ්‍යතාවයන් සාක්ෂාත් කිරීමත් අරමුණු කරගනිමින් රාජ්‍ය සේවා එක්සත් හෙද සංගමය කටයුතු කරයි. යහපත් ඉතිහාසයක්, විධිමත් වර්තමානයක් හා ආනාගත දර්ශනයක් ඇති සංගමයක් ලෙස ගරු සභාපති හිමියන් ප්‍රමුඛ විධායක කමිටුව හෙද සේවාවේ යහපතට කටයුතු කරයි. සංගමයේ ඉල්ලීමක් ඉටු කිරීම වශයෙන් මෙවර නයිටිංගේල් සමරුව වෙනුවෙන් නව තැපැල් මුද්දරයක් නිකුත් කිරීමට ද ශ්‍රී ලංකා රජය ඉදිරිපත් වී සිටී.

සංගමය මෙවර ජාත්‍යන්තර හෙද දිනය සමරනු ලබන්නේ අග්‍රාමාත්‍ය ගරු රනිල් වික්‍රමසිංහ මැතිතුමා ප්‍රමුඛ මැති ඇමතිතුමන්ලාගේ සහ අදාල ක්ෂේත්‍රයෙහි විද්වතුන්ගේත් ජාතික හා ආගමික නායකයින්ගේත් ගරු සපිරිවර සහභාගිත්වයෙන් 2003 මැයි මස 12 වැනි දින සුගතදාස ගෘහස්ත ක්‍රීඩාංගණයේ දී ය.

මෙහිදී ශ්‍රී ලංකාවේ හෙද සේවාව ගුණාත්මක ජනතා සේවාවක් බවට පත් කිරීමේ මහගු මෙහෙවරක් උදෙසා සුවිශේෂ අනුග්‍රාහයක් දැක් වූ පිරිසකට උපහාර සම්මාන පිරිනැමීමක් ද සිදු කෙරේ.

## මුද්දරය පිළිබඳ විස්තර

| | | |
|---|---|---|
| නිකුත් කරන දිනය | : | 2003 මැයි මස 12 වැනි දින |
| වටිනාකම | : | රු. 4.50 |
| සැලසුම්කරු | : | පාලිත ගුණසිංහ |
| හැඩය | : | තිරස් |
| ප්‍රමාණය | : | 41 x 30 මි. මී. |
| මුද්‍රණ ක්‍රමය | : | ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| පත් සැකැස්ම | : | පත්‍රිකාවක මුද්දර 100 බැගින් |
| සිදුරු ප්‍රමාණය | : | 14 |
| මුද්‍රණකරුවෝ | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව. |
| වර්ණ (පාවිච්චි කළ) | : | හතරකි |
| කඩදාසි | : | 102 ජීඑස්එම් ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : | පීවීඒ |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : | 10,00,000 |



அஞ்சல் திணைக்களம்,
திறான்ஸ் வேர்க்ஸ் இல்லம்,
கொழும்பு 00100.

சர்வதேச தாதிமார் தினத்தைக் குறிக்குமுகமாக அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம் ரூபா 4.50 இனப் பெறுமதியில் ஒரு புதிய அஞ்சல் முத்திரையை 2003 மே 12 ஆந் திகதி வெளியிடும்.

தாதிமார் தொழிலை புதிய பாணியில் தாபித்தவரான புளொரென்ஸ் நைட்டிங்கேல் அவர்களின் ஞாபகார்த்தமாக அவரின் பிறந்த தினமாகிய மே 12 ஆந் திகதி சர்வதேச தாதிமார் தினமாகக் கொண்டாடப்படுகிறது. நோயாளிகளைப் பராமரிப்பதில் ஓர் ஒழுங்குமுறையையும், விஞ்ஞான ரீதியான கோட்பாடுகளையும் அறிமுகப்படுத்தி, அத்துறையின் மேம்பாட்டுக்கும், முன்னேற்றத்துக்கும் அவரினால் அளிக்கப்பட்ட அரும்பெருஞ் சேவையை நினைவுகூருமுகமாக உலகளாவிய மட்டத்தில் சர்வதேச தாதிமார் தினம் அனுட்டிக்கப்படுகிறது.

இத்தாலியிலுள்ள புளொரென்ஸ் நகரில் தற்காலிகமாக வாழ்ந்துவந்த சகல வசதிகளையும் உடைய பெற்றோருக்கு குழந்தையாக 1820 மே 12 ஆந் திகதி புளொரென்ஸ் நைட்டிங்கேல் பிறந்தார். அவருக்கு நாமம் சூட்டும்போது, அவர் பிறந்த இடமாகிய புளொரென்ஸின் பெயரும் சேர்த்து சூட்டப்பட்டது. புளொரென்ஸில் பிறந்த அவர், தனது இளமைப் பருவத்தை இங்கிலாந்திலுள்ள டேர்பிசயர், ஹம்சயர், லண்டன் ஆகிய இடங்களில் தனது பெற்றோருடன் கழித்தார். அவரது தந்தையார் வில்லியம் எட்வேர்டும் தாயார் பிரான்செஸ் சிமித்தும் அவரின் கல்வி வளர்ச்சிக்கு வழிகாட்டிகளாக இருந்தனர். மருத்துவமனை ஒன்றில் நோயாளர்களைப் பராமரிப்பதற்கான கல்விநெறியொன்றை பின்பற்றுவதற்கு அவரின் பெற்றோர்கள் மறுப்புத் தெரிவித்து, பாராளுமன்றத்தில் அறிக்கையிடுவது தொடர்பான கல்வியை கற்கும்படி தூண்டினர். அவர் அதற்கு மறுத்து, நோயாளிகளைப் பராமரிக்கும் கல்விப் பயிற்சியை மேற்கொண்டு, மூன்று ஆண்டுகளில் பொது சுகாதாரம் மற்றும் நோயாளிகளை பராமரித்தலில் சிறந்த நிபுணரானார்.

பெற்றோர்களின் எதிர்ப்பையும் பொருட்படுத்தாது, இங்கிலாந்து மற்றும் ஐரோப்பாவிலுள்ள மருத்துவமனை களுக்கு விஜயம் செய்தார். 1846 இல் அவரின் சினேகிதி ஒருவர் ஜெர்மனி, கெயிஸர்ஸ்வேர்திலுள்ள புரட்டஸ்தாந்து பாதிரியார்களின் உதவியாளர்கள் நிலையத்தின் ஆண்டுப் புத்தகத்தை அனுப்பினார். நான்கு ஆண்டுகளின் பின்பு, அவர் இந்த நிலையத்தில் சேர்ந்து தாதியாகப் பயிற்சி பெற்றார். இதனைத் தொடர்ந்து, லண்டனிலுள்ள பிணியினால் வாடும் பெண்களை பராமரிக்கும் நிலையத்தின் கண்காணிப்பாளராக 1853 இல் நியமிக்கப்பட்டார்.

1854 மார்ச் 24 ஆம் திகதி, கிரிமியாவைக் கைப்பற்றிய ரஷ்ய நாட்டுக்கு எதிராக பிரித்தானியா, பிரான்சு நாடுகளின் ஆதரவுடன் துருக்கி யுத்தமொன்றை ஆரம்பித்தது. இந்த யுத்தத்தின் போது, லண்டன் டைம்ஸ் உட்பட பல புதினப் பத்திரிகைகளில் கிரிமியாவில் காணப்படும் பரிதாபகரமான நிலைமைகளை, விசேடமாக காயமுற்றவர்களும், நோயாளர் களும் முறையாகப் பராமரிக்கப்படாது விட்டுள்ளமையை வெளிப்படுத்தும் கட்டுரைகள் தொடர்ச்சியாகப் பிரசுரிக்கப் பட்டன. இந்த யுத்தப் பகுதியில் போதியளவு சத்திர சிகிச்சை நிபுணர்களும், தாதிமார்களும் இல்லாதிருந்தது. அத்துடன் காயங்களுக்கு கட்டும் துணிகளுக்கும் தட்டுப்பாடு இருந்தது. சில சந்தர்ப்பங்களில் காயமடைந்தவர்கள் கவனிப்பாரற்று ஒரு கிழமைக்குக் கூடுதலாக இருந்துள்ளமையும் தெரிய வந்தது. லண்டன் டைம்ஸ் பத்திரிகையில் வெளியிடப்பட்ட கட்டுரைகளை வாசித்த நைட்டிங்கேல் மிகவும் அதிர்ச்சியும் கவலையுமடைந்தார்.

ஒரு தொகுதி தாதிமார்களை கிரிமியாவுக்கு கூட்டிச் செல்வதற்கு அனுமதியைப் பெறும் நடவடிக்கையில் உடனடி யாக புளொரென்ஸ் நைட்டிங்கேல் ஈடுபட்டு, அனுமதி கோரும் கடிதத்தை யுத்தச் செயலாளராக நியமிக்கப்பட்ட சிட்னி ஹேர்பேர்ட்டுக்கு அனுப்பினார். அதே சமயம், தற்செயல் நிகழ்வாக சிட்னி ஹேபேர்டும் புளொரென்ஸ் நைட்டிங்கேலின் உதவியைக் கோரி கடிதமொன்றை அனுப்பியுள்ளார். இரு கடிதங்களும் அஞ்சலில் ஒன்றை யொன்று கடந்து சென்றன. துருக்கி, ஸ்குடேரியிலுள்ள இராணுவ மருத்துவமனைகளின் தாதிமார்களின்



தலைவியாக அவர் நியமிக்கப்பட்டார். 1854 நவம்பரில் துருக்கியிலுள்ள கொன்சாந்திநோப்பிளை (இஸ்தான்புள்) 38 தொண்டர் தாதிகளுடன் அவர் சென்றடைந்தார். அவர் சென்றடைந்தபோது, பலர் காயங்கள் காரணமாக அல்லாது காய்ச்சலினாலும் தொற்றுநோய்களினாலும் இறப்பதைக் கண்ணுற்றார். மருத்துவமனைகள் நோயாளிகளினால் நிரம்பியிருந்ததுடன், துப்பரவின்றியும், தவறாக முகாமைச் செய்யப்படுவதையும் கண்டார். மருத்துவமனைகளை துப்பரவாக்குவதற்கு தேய்த்து துப்பரவாக்கும் தூரிகைகளை வழங்குமாறு முதலில் கோரினார். இராணுவ அதிகாரிகளின் எதிர்ப்புக்கு மத்தியிலும் துப்பரவு, சுகாதாரம் தொடர்பாக புதிய விதிமுறைகளை அறிமுகப்படுத்தினார். உணவு வழங்கலை ஒழுங்காக்கினார். காயமுற்றவர்கள் முறையாக வும், சீராகவும் கவனிக்கப்படுகிறார்களா என்பதை உறுதிப் படுத்தினார். இதன் விளைவாக மருத்துவமனைகளில் இறப்பவர்களின் தொகை விரைவாகக் குறைவடையத் தொடங்கியது. ஒவ்வொரு நாளும் தொடர்ச்சியாக அவர் 20 மணித்தியாலங்கள் கடமையாற்றினார். இரவு நேரங்களில் மருத்துவமனைகளுக்கு கண்ணாடிக்கூட்டு விளக்குடன் சென்று நோயாளர்களைக் கவனித்தார். நோயாளர்கள் அவரை 'விளக்குடன் வரும் தாதி' என அன்புடன் அழைத் தனர்.

நோயாளர்களை பராமரிப்பதில் அவரடைந்த வெற்றி தொடர்பான செய்தி இங்கிலாந்தையும் சென்றடைந்தது. அவர் இங்கிலாந்து திரும்பியதும், ஒரு பூரணமான தாதிமார் கல்லூரியை நிறுவுவதற்கு பணம் திரட்டினார். 1860 இல் லண்டனிலுள்ள சென்ற் தோமஸ் மருத்துவமனையில் தாதிமார்களுக்கான நைட்டிங்கேல் கல்லூரியையும், லிவர்பூலில் சமூக, சுகாதார தாதிமார் சேவையையும் தாபித்தார். அதே ஆண்டு, "நோயாளிகளை பராமரிப்ப தற்கான குறிப்புகள்" எனும் அவரது நூலும் வெளியிடப் பட்டது. 1907 இல் "ஓர்டர் ஒவ் மெரிற்" எனும் பட்டத்தைப் பெற்று, இக்கௌரவத்தை அடைந்த முதலாவது பெண்மணி என்ற பெருமையையும், புகழையும் பெற்றார். இந்தத் தூய்மையான தொழிலின் முக்கிய கோட்பாடு "நோயாளி களைப் பராமரிப்பதில் இடத்தையும் சுற்றாடலையும் துப்பரவாகவும் தூய்மையாகவும் வைத்திருப்பது முதற்

கடமை" என எடுத்துக் கூறினார். தனது எண்பதாவது அகவை வரை நோயாளிகளின் பராமரிப்பு தொடர்பாக பெருந்தொகையான கடிதங்களையும், குறிப்புகளையும் தொடர்ச்சியாக எழுதி வெளியிட்டார். புளொரென்ஸ் நைட்டிங்கேல் வாழ்க்கையிலும், இறுதிக் காலத்தில் அவருக்கு ஒரு தாதியின் உதவி தேவைப்பட்டது. தாதி அவரை நன்றாகப் படுக்கையில் உறங்க வைத்தாலும், அவர் மீண்டும் எழும்பி, தாதி நன்றாக நித்திரை கொள்கிறாரா எனப் பார்த்துக் கொள்வார். 1910 ஓகஸ்ட் 13 ஆம் திகதி இரவு நித்திரையில் ஆழ்ந்த அவர், மீண்டும் துயிலெழவில்லை.

1899 இல் தாபிக்கப்பட்ட சர்வதேச தாதிமார் கழகம், புளொரென்ஸ் நைட்டிங்கேல் பிறந்த தினமாகிய மே 12 ஆம் திகதியை சர்வதேச தாதிமார் தினமாகப் பிரகடனப்படுத்துவதற்கு நடவடிக்கை எடுத்தது. தாதிமார் சேவைக்கு அரும்பணியாற்றிய புளொரென்ஸ் நைட்டிங்கேல் பிறந்த தினமாகிய மே 12 ஆம் திகதியை சர்வதேச தாதிமார் தினமாகப் பிரகடனப்படுத்துவதற்கு நடவடிக்கை எடுத்தது. தாதிமார் சேவைக்கு அரும்பணியாற்றிய புளொரென்ஸ் நைட்டிங்கேலை கௌரவிக்குமுகமாக இத்திகதி சர்வதேச தாதிமார் தினமாகப் பிரகடனப்படுத்தப்பட்டது. ஆண்டு தோறும், இத்திகதியில் சர்வதேச தாதிமார் தினம் கொண்டாடப்படுகிறது.

எமது நாட்டில், 1939 இல் தாதிமார் சேவை ஒழுங்கு முறைப்படுத்தப்பட்டதும், இத்தினத்தை கொண்டாடுவதில் ஆர்வம் வெளியிடப்பட்டது. ஆனால் இத்தினத்தை முறையாகக் கொண்டாடுவதற்கு ஒழுங்குகள் மேற்கொள்ளப்படாமை ஒரு குறையாக இருந்தது. இதனை அவதானித்த ஐக்கிய தாதிமார்கள் சங்கம், இத்தினத்தின் முக்கியத்துவத்தை கருத்திற்கொண்டு, முறையாகக் கொண்டாடுவதற்கான ஒழுங்குகளை மேற்கொண்டது.

1966 மே 24 ஆம் திகதி, தாதிமார்கள் சங்கம் "பொதுத் தாதிமார்கள் சங்கம்" எனப் பெயரிடப்பட்டது. பின்பு, 1969 நவம்பர் 05 ஆம் திகதி சங்கைக்குரிய முத்தெட்டுவே ஆனந்த அவர்களின் தலைமையில் 'ஐக்கிய தாதிமார்கள் சங்கம்' என மீளத் தாபிக்கப்பட்டது. 13 அங்கத்தவர்களுடன் தாபிக்கப்பட்ட இச்சங்கம், இன்று 16,000 உறுப்பினர்களைக் கொண்டுள்ளது.



இந்தச் சங்கம், பொது மக்களுக்கு பரந்த சேவையை வழங்குவதை நோக்கமாகக் கொண்டுள்ளதுடன், தாதிமார் சேவையிலுள்ள அங்கத்தவர்களின் கல்வி, பொருளாதார, சமூகத் தரங்களை உயர்த்துவதையும் குறிக்கோளாகக் கொண்டுள்ளது. அத்துடன் நாட்டின் தேவைகள் பூர்த்திசெய்யப்படுவதையும் இலக்காகக் கொண்டுள்ளது. சங்கைக்குரிய தேரரொருவரை தலைவராகக் கொண்டுள்ள இச்சங்கம், சிறந்த சேவையை வழங்குவதை இலக்காகக் கொண்டுள்ளது. சர்வதேச தாதிமார் தினத்தின் ஞாபகார்த்தமாக சங்கத்தின் வேண்டுகோளுக்கிணங்க அரசாங்கம் ஒரு புதிய அஞ்சல் முத்திரையை வெளியிடுகிறது.

சங்கம், சர்வதேச தாதிமார் தினத்தை 2003 மே 12 ஆம் திகதி சுகததாச உள்ளக அரங்கில் கொண்டாடுகிறது. இவ்வைபவத்தில் மாண்புமிகு பிரதம மந்திரி, ரணில் விக்கிரமசிங்க, மாண்புமிகு அமைச்சர்கள், கௌரவ பாராளுமன்ற உறுப்பினர்கள், மதத் தலைவர்கள் மற்றும் பெரியார்கள் பங்குபற்றுவார்கள்.

இவ்வைபவத்தின் போது தாதிமார் சேவையை ஒரு பெறுமதிமிக்க பொதுச் சேவையாக மாற்றுவதற்கு அர்ப்பணிப்பும், ஒத்துழைப்பும் நல்கியவர்கள் கௌரவிக்கப்படுவார்கள்.

## தொழிநுட்ப விபரங்கள்

| | | |
|---|---|---|
| வெளியிடும் திகதி | : | 2003, மே மாதம் 12 ஆந் திகதி |
| இனப்பெறுமதி | : | ரூபா 4.50 |
| வடிவமைப்பாளர் | : | பாலித குணசிங்க |
| முத்திரை அளவு | : | 41 X 30 மி.மீ. |
| வடிவம் | : | கிடையானது |
| அச்சீட்டு செயல் முறை | : | எதிர்ப்படி கல்லச்சு முறை |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 100 முத்திரைகள் |
| துளையீடு | : | 14 |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சுத் திணைக்களம், இலங்கை. |
| நிறங்கள் | : | 4 நிறங்கள் |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் |
| பசை | : | பிவிஏ |
| அச்சடித்த தொகை | : | 10,00,000 |

Department of Posts,
Transworks House,
Colombo 00100.

The Philatelic Bureau of the Department of Posts will issue a new postage stamp in the denomination of Rs. 4.50 on 12th May, 2003 in commemoration of the International Nursing Day.

This day May 12th is named as the International Nursing Day to honour the birth of Florence Nightingale, the founder of the modern nursing profession. Her invaluable service rendered to nursing and the devotion to establish the standards of the nursing profession systematically and scientifically is celebrated through the world as the International Nursing Day.

Florence Nightingale was born on May 12, 1820, to well-to-do parents at their temporary residence in Florence, Italy. Named for her birth place, she grew up in Derbyshire, Hampshire and London, where her family maintain temporary homes. Nightingale was educated largely by her father, William Edward and mother Frances Smith. After her parents refused her request to study nursing at a hospital, Nightingale was persuaded to study parlimentary reports. In three years she was an expert on public health and hospitals.

Over her parents' objections she visited hospitals in England and continental Europe. In 1846 a friend send her the Year Book of the Institution of Protestant Deaconesses at Kaiserswerth, Germany, Four years later Nightingale entered the same institution and was trained as nurse. In 1853 she was appointed superintendent of the Institution for the Care of Sick Gentlewoman, in London.

On March 24, 1854, with the support of Britain and France, Turkey declared war on Russia who invaded Crimea. During this war, series of articles appeared in newspapers including



London Times which told about the dreadful conditions in Crimea, especially the lack of care for the wounded and sick. There were not enough surgeons and nurses. There was not enough linen to make bandages and in some cases the wounded had no care for a weak. Nightingale was shocked when she read the article appeared in London Times.

Florence Nightingale at once set about getting official permission to take a band of nurses to Crimea. Her plan was sent to Sidney Herbert who had become secretary of war. But a strange coincidence, he wrote to her at the samé time, asking for her help ; and their letters crossed in the mail. She was appointed head of the nurses in the military hospitals in Scutari, Turkey. In November, 1854 she arrived Constantinople (Now Istanbul) in Turkey, with 38 other volunteers. When she arrived more men were dying from fever and infection than from the battle wounds. She found the hospitals crowded, filthy and badly managed. One of Nightingale's first requests was for scrubbing brushes. Againts the opposition of the military commanders, she introduced new rules of cleanliness and hygiene, organized food supplies and ensured that the wounded were properly cared for. Almost immediately the number of soldiers who died in hospital was greatly reduced, and she worked 20 hours everyday without a break. At night she used to carry a lantern while visiting the patients at the hospitals. She became known to them as the 'Lady with the Lamp'.

News of her success reached England, and on her return she raised money to found a proper nurse's school. In 1860 she established the Nightingale school for Nurses at St. Thoma's Hospital, London and Community Health Nursing Service in Liverpool. Her 'Notes on Nursing' was published in the same year. In 1907 Florence Nightingale became the first woman to be appointed to the Order of Merit. 'First role of nursing to keep the air within as pure as without' was the motto behind her noble profession. She continued to write vast quantities of letters and notes until she was almost eighty yeras old. At last, Florence Nightingale herself had to have nurse. But often after

nurse had tucked her in for night she would get out of bed to tuck in the nurse. On August 13th, 1910 this grand old lady fell asleep and did not wake up again.

International Nurses Council established in 1899 has taken action to name May 12th as the International Nursing Day as a mark of honour to Florence Nightingale who's birth day falls on May 12th, who contributed unique service to nursing profession and hence this day is commemorated annually as the Intenational Nursing Day.

following the establishment of systematic nurses service in 1939, our country also joined hands in commemoration of this day. However since there was no broad organized system of this taken into consideration the relationship of this day to the profession the Public Services United nurses Union who acknowledged the importance of this day, has taken steps to commemorate this day at the highest level.

The Public Services United Nurses Union established as the General Nurses Union on May 24th, 1966 has been re-established on November 05, 1969 with the esteemed name of 'Public Services United Nurses Union' under the guidance and patronage of Ven. Muruththettuwe Ananda. This Union established with only 13 members then, is privileged with a membership of 16,000 members today.

This Union aimed at a broad service to the general public at large and the upliftment of educational, social and economic standards of the members in this service has also taken steps to satisfy the service requirements of the country. The executive committee with venerable president of the Union, the endeavour towards a better service, with a systematic present and a successful past. On a request by the Union, the government has obliged to issue a new stamp in commemoration of Nightingale Day.



The Union commemorate this day on May 12th, 2003, at Sugathadasa Indoor Stadium with the esteemed participation of Hon. Prime Minister Ranil Wickremasinghe, Hon. Ministers, Hon. Members of Parliament, National religious leaders and intellectuals of relevant field.

On this occasion a special expression of honour is due to be conferred on those who contributed to make the nurses service an invaluable Public service.

**Technical Details**

| | | |
|---|---|---|
| *Date of Issue* | : | 12th May, 2003 |
| *Denomination* | : | Rs. 4.50 |
| *Designer* | : | Palitha Gunasinghe |
| *Format* | : | Horizontal |
| *Stamp Size* | : | 41 x 30 mm. |
| *Printing Process* | : | Offset Lithography |
| *Printers* | : | Department of Government Printing, Sri Lanka |
| *Sheet Composition* | : | 100 stamps per sheet |
| *Perforations* | : | 14 |
| *Colours (used)* | : | 4 Process Colours |
| *Paper* | : | 102 gsm. Security stamp paper |
| *Gum* | : | PVA |
| *Quantity Printed* | : | 1,000,000 |